56435



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2562 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2018(2019)** **2S**

**(02) බුද්ධ ධර්මය හා පාලි භාෂා පරිචය**

පැ. තුනයි

**2019.03.16 /12.50 - 16.00**

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි.

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් තුනකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් එක් ප්‍රශ්නයක්වත් තෝරා ගෙන, ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

1. (i) හේතුඵල සිද්ධාන්තය මුල්කර ගනිමින් ප්‍රථමයෙන් ධර්මය දේශනා කළ රහතන් වහන්සේ හා ඒ ධර්මය අවබෝධ කර ගත්තේ කවුරුන් දැයි දක්වන්න. (ලකුණු 02 යි)

   (ii) ඉහත (i) හි සිදුවීමට අදාළ තොරතුරු සඳහන් වන විනය ග්‍රන්ථයත් එම ධර්මය නොදැනීම නිසා සසර සැරිසැරීමට හේතුව දැක්වෙන දීඝනිකායගත සූත්‍රයත් නම් කරන්න. (ලකුණු 04 යි)

   (iii) හේතුඵල ධර්මතාව ලොව සදහට ම පවත්නා සත්‍යය බව දේශනා කිරීමට හේතු වූ කරුණු කෙටියෙන් ඉදිරිපත් කරන්න. (ලකුණු 06 යි)

   (iv) සත්ත්වයා සසර සැරිසැරීමට හෙවත් පුනර්භවයක් ලැබීමට හේතුව ප්‍රතීත්‍ය සමුත්පන්න ධර්ම විග්‍රහය මගින් පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

2. (i) චතුරාර්ය සත්‍ය ධර්ම නම් කරන්න. (ලකුණු 02 යි)

   (ii) ඒවා ආර්ය සත්‍ය නාමයෙන් විශේෂ කොට දැක්වීමේ හේතුව පහදා දෙන්න. (ලකුණු 04 යි)

   (iii) සිවුවන ආර්ය සත්‍ය 'මජ්ඣිමා පටිපදා' නාමයෙන් හඳුන්වා දීමේ වැදගත්කම පෙන්වා දී, එම ප්‍රතිපදාවට අයත් අංග අනුපිළිවෙළින් දක්වන්න. (ලකුණු 06 යි)

   (iv) බෞද්ධ විමුක්ති මාර්ගයට අයත් පියවර තුන දක්වා, එම පියවරවලින් අපේක්ෂිත කාර්ය පෙන්වා දී, එහි පළමු පියවර අනුගමනය නො කිරීම වත්මන් සමාජ සංස්ථාව බිඳ වැටීමට හේතු වන ආකාරය පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

3. (i) නිර්වාණ මාර්ගයේ දී විශේෂයෙන් අවබෝධ කර ගත යුතු ලක්ෂණත්‍රය නම් කරන්න. (ලකුණු 02 යි)

   (ii) ඒවායින් දෙකක ස්වභාවය හඳුන්වා දෙන්න. (ලකුණු 04 යි)

   (iii) මෙම ලක්ෂණත්‍රයට අයත් භාවනා මාර්ගය හඳුන්වන නම ලියා, එය බෞද්ධ භාවනාවක් ලෙසින් දක්වා ඇත්තේ කවර හේතු නිසා දැයි පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

   (iv) සත්ත්වයා හා ලෝකය පිළිබඳ යථා ස්වභාවය අවබෝධ කර ගැනීමට මේ ලක්ෂණ හේතු වන අයුරු දක්වන්න. (ලකුණු 08 යි)

4. (i) බුදු දහම 'කර්මය' යනුවෙන් හඳුන්වන චෛතසිකයේ නම හා එම චෛතසිකය මුල්කර ගෙන කාර්ය සිදු කරන ද්වාරත්‍රය නම් කරන්න. (ලකුණු 02 යි)

   (ii) සචේතනික හා අචේතනික ක්‍රියා කවරේ දැයි උදාහරණ මගින් පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)

   (iii) ද්වාරත්‍රය මුල්කර ගෙන කරන ක්‍රියා දක්වා, ඒවා කවර නම් මිනුම් දඬු මුල්කර ගෙන හිතකර, අහිතකර ලෙසින් තෝරා ඇත් දැයි දක්වන්න. (ලකුණු 06 යි)

   (iv) විපාක දෙන කාල අනුව කර්මයේ ප්‍රභේද දක්වා, කෙලෙස් නැසූ උතුමන්ට පවා යහපත්, අයහපත් කර්ම විපාකවලට මුහුණදීමට සිදු වූ ආකාරය නිදසුන් මගින් ගෙනහැර දක්වන්න. (ලකුණු 08 යි)

[ 2 වැනි පිටුව බලන්න.

## II කොටස

5. (i) සමථ භාවනාව සඳහා ආර්ය අෂ්ටාංගික මාර්ගයේ උපයෝගී වන අංග දෙක නම් කරන්න. *(ලකුණු 02 යි)*

(ii) ධර්මාර්ථ පැහැදිලි වන සේ එම අංග දෙක හඳුන්වන්න. *(ලකුණු 04 යි)*

(iii) භාවනාලාභී පුද්ගලයා විසින් ප්‍රථමයෙන් ඇති කර ගත යුතු සංවරය දක්වා, දෙවනුව ඔහු චිත්ත සංවරය සඳහා යොමු විය යුතු ආකාරය පහදා දෙන්න. *(ලකුණු 06 යි)*

(iv) සමථ භාවනාව සඳහා අරමුණු වන කර්මස්ථාන හතළිහ ලියා, ආනාපානසති භාවනාව වැඩීමෙන් ලැබිය හැකි යහපත පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

6. (i) සතර පරමාර්ථ ධර්ම නම් කරන්න. *(ලකුණු 02 යි)*

(ii) එම පරමාර්ථ ධර්මවලට අයත් සංඛ්‍යා දක්වා, යහපත්, අයහපත් ක්‍රියා හඳුන්වන සිත් වර්ග දෙක ඉදිරිපත් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) මෝහ මූලික සිත් නම් කර, එම සිත්වල දක්නට ලැබෙන විශේෂ ලක්ෂණ සමග ඒවා කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

(iv) මාර්ග ඥාන වශයෙන් පෙන්වා දී ඇති සිත් නම් කර, හතරවන මාර්ග ඥානයෙන් ප්‍රහීණ කරන සංයෝජන ධර්ම පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

## III කොටස

7. පහත සඳහන් පාලි ගාථා සිංහලට නගන්න.

(i) පහූත භක්ඛෝ භවති - විප්පවුත්ථෝ සකා ඝරා
බහූනං උපජීවන්ති - යෝ මිත්තානං න දූභති.

(ii) නාස්ස චෝරා පසහන්ති - නාතිමඤ්ඤේති ඛත්තියෝ
සබ්බේ අමිත්තේ තරති - යෝ මිත්තානං න දූභති.

(iii) අක්කුද්ධෝ සඝරං එති - සභාය පටිනන්දිතෝ
ඤාතිනං උත්තමෝ හෝති - යෝ මිත්තානං න දූභති.

(iv) සබ්බේ සත්තා සබ්බේ පාණා - සබ්බේ භූතා ච කේවලා
සබ්බේ භද්‍රානි පස්සන්තු - මා කඤ්චි පාපමාගමා.

(v) අපාදකේහි මේ මෙත්තං - මෙත්තං දිපාදකේහි මේ
චතුප්පදේහි මේ මෙත්තං - මෙත්තං බහුප්පදේහි මේ.

*(ලකුණු 04 × 5 = 20 යි)*

8. පහත දැක්වෙන පාලි වාක්‍ය සිංහලට නගන්න.

(i) ඉදමවෝච භගවා අත්තමනා තේ භික්ඛූ භගවතෝ භාසිතං අභිනන්දුන්ති.

(ii) අථ ඛෝ සම්බහුලා භික්ඛූ යේන භගවා තේනුපසංකමිංසු, උපසංකමිත්වා භගවන්තං අභිවාදෙත්වා ඒකමන්තං නිසීදිංසු.

(iii) තත්‍ර ඛෝ භගවා භික්ඛූ ආමන්තේසි "භික්ඛවෝ"ති "භදන්තේ"ති තේ භික්ඛූ භගවතෝ පච්චස්සෝසුං.

(iv) ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ සන්දිට්ඨිකෝ අකාලිකෝ එහිපස්සිකෝ ඕපනයිකෝ පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහීති.

*(ලකුණු 05 × 4 = 20 යි)*

* * *